# 2560 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2015 (2016)

S 5

## (05) බෞද්ධ සමාජ දර්ශනය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2\. (i) ගෘහස්ථයන් විසින් පැවිදි උතුමන්ට සංග්‍රහ කළයුතු ආකාර පහක් සිගාලෝවාද සූත්‍රයේ දැක්වේ. එම ආකාර පහ නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) පැවිදි උතුමන් විසින් ගෘහස්ථයන් වෙත කෘතවේදිත්වය දක්වන ආකාර හයක් සිගාලෝවාද සූත්‍රයේ දැක්වේ. එම ආකාර හය නම් කරන්න. (ලකුණු 07 යි)

(iii) 'දුකින් මිදීමට මග දැක්වීමත්, ආර්ථික, සාමාජික හා ආධ්‍යාත්මික වශයෙන් සමාජය දියුණුවට යොමු කිරීමත් බෞද්ධ භික්ෂූන් වහන්සේට පැවරුණු කාර්යභාරයයි' යන ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 07 යි)

3\. (i) ජන සම්මතයෙන් රජෙකු පත් කර ගත් මිනිස්සු ඔහුට ත්‍රිවිධ බලයක් පැවරූ බව රාජ්‍යත්වය පිළිබඳ බෞද්ධ සංකල්පයේ සඳහන් වේ. එම ත්‍රිවිධ බලය නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) රාජ්‍යත්වයේ ප්‍රභවය පිළිබඳ බෞද්ධ මතය හා බ්‍රාහ්මණ මතය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

(iii) දසරාජ ධර්මය නම් කර, ධාර්මික පාලනයක් සඳහා බුදු දහම සපයන උපදෙස් පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

4\. (i) 'ධම්මෙන මාතාපිතරො භරෙය්‍ය' යන ගාථාව සම්පූර්ණ කර ලියන්න. (ලකුණු 04 යි)

(ii) ආර්ථිකය හා බැඳුණු සතරාකාර සුවය නම් කර, එම සුවය අත්පත් කර ගත හැකි ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

(iii) සාර්ථක ආර්ථික දියුණුවකට උපකාර වන උපදෙස් බුදුදහමෙහි දැක්වේ. එම උපදෙස් ඇගයීමට ලක් කරන්න. (ලකුණු 07 යි)

5\. (i) 'යෙ ගහට්ඨා පුඤ්ඤකරා' යන ගාථාව සම්පූර්ණ කරන්න. (ලකුණු 04 යි)

(ii) එම ගාථාවෙන් ප්‍රකට වන කරුණු නම් කර, ඒවා පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

(iii) 'විවාහය සදාචාර ධර්ම ප්‍රගුණ කිරීමට සුදුසු තෝතැන්නක් සේ සලකා බුදු දහම විවාහ ජීවිතයට උපදෙස් සපයයි.' යන ප්‍රකාශය තහවුරු කරන්න. (ලකුණු 07 යි)

6\. (i) බෞද්ධ චක්‍රවර්ති රාජ්‍යයේ ක්‍රියාත්මක වන ජාත්‍යන්තර නීතිය නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරදුන් භික්ෂූන්ට නීති පැනවීමට පදනම් කර ගත් කරුණු නම් කරන්න. (ලකුණු 07 යි)

(iii) "ස්වේච්ඡාවෙන් සදාචාර ධර්ම පද්ධතියක් පිළිපදින බෞද්ධ සමාජයක මූලික මිනිස් අයිතිවාසිකම් තහවුරු වේ." යන්න පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

7\. (i) පාරිසරික අංගයක් වන සත්ත්වයන් කෙරෙහි ධර්මාශෝක රජු හා තුන්වන කාශ්‍යප රජු කරුණාව දැක් වූ ආකාරය පිළිබඳ සිද්ධි නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) අධර්ම රාගය, විෂම ලෝභය හා මිථ්‍යාදෘෂ්ටිය පැතිරීමෙන් පරිසරයේ සමතුලිත බව බිඳ වැටෙන ආකාරය දැක්වෙන බෞද්ධ සූත්‍ර දෙකක් නම් කර, එසේ පරිසරය බිඳ වැටෙන ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

(iii) සතර බ්‍රහ්ම විහරණ නම් කර, එම ගුණාංග වැඩි පුද්ගලයකුගේ චර්යාව ජීව-අජීව පරිසරයේ ආරක්ෂාවට හා පෝෂණයට උපකාර වන අන්දම පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)

[පස්වන පිටුව බලන්න.

8\. (i) 'බ්‍රාහ්මණොස්‍ස මුඛමාසීද්' යන ශ්ලෝකය සම්පූර්ණ කරන්න. *(ලකුණු 04 යි)*

(ii) වර්ණ භේදයට එරෙහි 'එසුකාරී, අස්සලායන, වංකී' යන සූත්‍රවල බුදුරදුන් දැක්වූ මූලික කරුණු නම් කරන්න. *(ලකුණු 07 යි)*

(iii) "මිනිසුන් පිළිබඳ සනාතන නොවන සම්මුති පදනම් කරගෙන විමුක්තිය හෝ ආගමික අයිතින් හෝ සාමාජීය අයිතින් හෝ අහිමි කිරීම නිසා බුදුරදුන් විසින් වර්ණ ධර්මය ප්‍රතික්ෂේප කරන ලදී." යන්න සනාථ කරන්න. *(ලකුණු 07 යි)*

9\. (i) සංවර්ධනයට පදනම් වන සම්පදා හතරක් බුදුරජාණන් වහන්සේ වදාරති. එම සම්පදා හතර නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) 'ජනගහන වර්ධනය, භාණ්ඩ හා සේවා සැපයීමේ දී විවිධ ක්ෂෙත්‍රවල ගැටලු ඇති කරයි.' යන ප්‍රකාශය සැකෙවින් පැහැදිලි කරන්න. *(ලකුණු 07 යි)*

(iii) 'ජනගහන වර්ධනය සංවර්ධනයට බාධා පමුණුවන බැවින් ජනගහන වර්ධනය පාලනය කළ යුතු ය.' යනු ප්‍රචලිත අදහසකි. ඒ සම්බන්ධයෙන් බෞද්ධ ධර්ම මාර්ගයට අනුව ඉදිරිපත් කළ හැකි විසඳුම් පැහැදිලි කරන්න. *(ලකුණු 07 යි)*

***